# දෙවන බස සිංහල

## 7 ශ්‍රේණිය

**අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව**



# ශ්‍රී ලංකා ජාතික ගීය

ශ්‍රී ලංකා මාතා
අප ශ්‍රී ලංකා, නමෝ නමෝ නමෝ නමෝ මාතා
සුන්දර සිරිබරිනී, සුරැඳි අති සෝබමාන ලංකා
ධාන්‍ය ධනය නෙක මල් පළතුරු පිරි ජය භූමිය රම්‍යා
අපහට සැප සිරි සෙත සදනා ජීවනයේ මාතා
පිළිගනු මැන අප භක්ති පූජා
නමෝ නමෝ මාතා
අප ශ්‍රී ලංකා, නමෝ නමෝ නමෝ නමෝ මාතා
ඔබ වේ අප විද්‍යා
ඔබ ම ය අප සත්‍යා
ඔබ වේ අප ශක්ති
අප හද තුළ භක්ති
ඔබ අප ආලෝකේ
අපගේ අනුප්‍රාණේ
ඔබ අප ජීවන වේ
අප මුක්තිය ඔබ වේ
නව ජීවන දෙමිනේ නිතින අප පුබුදු කරන් මාතා
ඥාන වීර්ය වඩවමින රැගෙන යනු මැන ජය භූමි කරා
එක මවකගෙ දරු කැල බැවිනා
යමු යමු වී නොපමා
ප්‍රේම වඩා සැම භේද දුරැර ද නමෝ නමෝ මාතා
අප ශ්‍රී ලංකා, නමෝ නමෝ නමෝ නමෝ මාතා

අපි වෙමු එක මවකගෙ දරුවෝ
එක නිවසෙහි වෙසෙනා
එක පාටැති එක රුධිරය වේ
අප කය තුළ දුවනා

එබැවිනි අපි වෙමු සොයුරු සොයුරියෝ
එක ලෙස එහි වැඩෙනා
ජීවත් වන අප මෙම නිවසේ
සොඳින සිටිය යුතු වේ

සැමට ම මෙත් කරුණා ගුණෙනී
වෙළී සමගි දමිනී
රන් මිණි මුතු නො ව එය ම ය සැපතා
කිසි කල නොම දිරනා

ආනන්ද සමරකෝන්

# පෙරවදන

දියුණුවේ හිණිපෙත කරා ගමන් කරනා වත්මන් ලොවට, නිතැතින්ම අවැසි වනුයේ වඩාත් නව්‍ය වූ අධ්‍යාපන ක්‍රමයකි. එමගින් නිර්මාණය කළ යුත්තේ මනුගුණදම් සපිරුණු හා කුසලතාවලින් යුක්ත දරුපරපුරකි. එකී උත්තුංග මෙහෙවරට ජව බලය සපයමින්, විශ්වීය අභියෝග සඳහා දිරියෙන් මුහුණ දිය හැකි සිසු පරපුරක් නිර්මාණය කිරීම සඳහා සහාය වීම අපගේ පරම වගකීම වන්නේ ය. ඉගෙනුම් ආධාරක සම්පාදන කාර්යය වෙනුවෙන් සක්‍රීය ලෙස මැදිහත් වෙමින් අප දෙපාර්තමේන්තුව ඒ වෙනුවෙන් දායකත්වය ලබා දෙන්නේ ජාතියේ දරුදැරියන්ගේ නැණ පහන් දල්වාලීමේ උතුම් අදිටනෙනි.

පෙළපොත විටෙක දැනුම් කෝෂ්ඨාගාරයකි. එය තවත් විටෙක අප වින්දනාත්මක ලොවකට ද කැඳවාගෙන යයි. එසේම මේ පෙළපොත් අපගේ තර්ක බුද්ධිය වඩවාලන්නේ අනේකවිධ කුසලතා පුබුදු කරවාගන්නට ද සුවිසල් එළි දහරක් වෙමිනි. විදුබිමෙන් සමුගත් දිනක වුව අපරිමිත ආදරයෙන් ස්මරණය කළ හැකි මතක, පෙළපොත් පිටු අතර දැවටී ඔබ සමඟින් අත්වැල් බැඳ එනු නොඅනුමාන ය. මේ පෙළපොත සමඟම තව තවත් දැනුම් අවකාශ පිරි ඉසව් වෙත නිති පියමනිමින් පරිපූර්ණත්වය අත් කරගැනුමට ඔබ සැම නිරතුරුව ඇප කැප විය යුතු ය.

නිදහස් අධ්‍යාපනයේ මහානර්ඝ ත්‍යාගයක් සේ මේ පුස්තකය ඔබ දෝතට පිරිනැමේ. පෙළපොත් වෙනුවෙන් රජය වැය කර ඇති සුවිසල් ධනස්කන්ධයට අර්ථසම්පන්න අගයක් ලබා දිය හැක්කේ ඔබට පමණි. මෙම පාඨ්‍ය ග්‍රන්ථය මනාව පරිශීලනය කරමින් නැණ ගුණ පිරි පුරවැසියන් වී අනාගත ලොව ඒකාලෝක කරන්නට දැයේ සියලු දූ දරුවන් වෙත දිරිය සවිය ලැබේවායි හදවතින් සුබ පතමි.

පෙළපොත් සම්පාදන කාර්යය වෙනුවෙන් අප්‍රමාණ වූ සම්පත්දායකත්වයක් සැපයූ ලේඛක, සංස්කාරක හා ඇගයුම් මණ්ඩල සාමාජික පිරිවරටත් අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුවේ කාර්ය මණ්ඩලයේ සැමටත් මාගේ හදපිරි ප්‍රණාමය පුදකරමි.

පී. එන්. අයිලප්පෙරුම
අධ්‍යාපන ප්‍රකාශන කොමසාරිස් ජනරාල්
අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව
ඉසුරුපාය
බත්තරමුල්ල
2020.06.26

### නියාමනය හා අධීක්ෂණය

පී. එන්. අයිලප්පෙරුම - අධ්‍යාපන ප්‍රකාශන කොමසාරිස් ජනරාල්,
අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව.

### මෙහෙයවීම

ඩබ්ලිව්. ඒ. නිර්මලා පියසීලි - කොමසාරිස් (සංවර්ධන),
අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව.

### සම්බන්ධීකරණය

එම්. ඩී. කේ. මාවලගේ - සහකාර කොමසාරිස්,
අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව.

ප්‍රගීතිකා ජයසේකර - සහකාර කොමසාරිස්,
අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව.

ඩී. එම්. මල්කා මිලානි - සහකාර කොමසාරිස් (2020 මුද්‍රණය),
අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව.

### සංස්කාරක මණ්ඩලය

1. මහාචාර්ය රත්න විජේතුංග - ශ්‍රී ජයවර්ධනපුර විශ්වවිද්‍යාලය
2. එස්. එම්. ඒ. සිෆායා - නියෝජ්‍ය අධ්‍යක්ෂ,
අධ්‍යාපන අමාත්‍යාංශය.
3. ඩබ්ලිව්. පී. මංගල ගුණරත්න - කථිකාචාර්ය,
ජාතික අධ්‍යාපන ආයතනය, මහරගම.
4. වජිර ප්‍රභාත් විජයසිංහ - භාෂා පරිවර්තක,
රාජ්‍ය භාෂා දෙපාර්තමේන්තුව.

### ලේඛක මණ්ඩලය

1. පී. ඩී විනීතා කුලතිලක - ගුරු සේවය,
ශ්‍රී පාලි විද්‍යාලය, හොරණ.

| | | |
|---|---|---|
| 2. තේජා ඇරැගොඩ | - | ගුරු සේවය,<br>මප/මහ/කලෛමගල් දෙ.විද්‍යාලය,<br>මහනුවර. |
| 3. බී. එච්. කාසීම් | - | ගුරු උපදේශක,<br>කලාප අධ්‍යාපන කාර්යාලය,<br>කොළඹ. |
| 4. අසෝක් කුමාර් | - | ගුරු සේවය,<br>නු/තලොස් විද්‍යාලය,<br>උඩුපුස්සැල්ලාව. |

**භාෂා සංස්කරණය**

| | | |
|---|---|---|
| 1. පී. එන්. මධුෂාන් | - | ගුරු සේවය,<br>හෝලි රොසරි දෙමළ විද්‍යාලය,<br>කොළඹ 02. |

**සෝදුපත් කියවීම**

| | | |
|---|---|---|
| 1. ඩබ්ලිව්. එම්. චමිලා හර්ෂණී කුමාරි | - | ගුරු සේවය,<br>අල් - හික්මා විද්‍යාලය,<br>කොළඹ 12. |

**චිත්‍ර සහ පිටකවර නිර්මාණය**

| | | |
|---|---|---|
| කේ. ඒ. සමන් කළුබෝවිල | - | ග/ අනුර මධ්‍ය මහා විද්‍යාලය, යක්කල. |

**පරිගණක පිටු සැකසුම හා අක්ෂර සංයෝජනය**

| | | |
|---|---|---|
| හසල චතුරංග විතානගේ | - | තොරතුරු තාක්ෂණ අංශය,<br>අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව. |

# පටුන

# අකුරු සමඟ යොදන සංකේත උගනිමු

| | | |
|---|---|---|
| ා, ු, ෙ ්, ් | ආ යු බෝ ව න් | ආයුබෝවන් |
| ී, ් | ටී ච ර් | ටීචර් |
| ි, ි, ි, ෙ ් | පිට්ටනියේ | පිට්ටනියේ |
| ැ, ් | වැඩසටහන් | වැඩසටහන් |
| ෙ ා, ි | හොඳයි | හොඳයි |
| ා, ි, ි, ා, ෙ ් | ආච්චිලාගේ | ආච්චිලාගේ |
| ෙ ා, ෙ ් | කොහේ ද | කොහේ ද |
| ෙ ා, ෙ ා | කොහොමද | කොහොමද |

| | | |
|---|---|---|
| ැ, ා, ි | කැමජාති | කැමජාති |
| ි, ්‍ර, ් | ක්‍රිකට් | ක්‍රිකට් |
| ි, ි, ි | දිලිහි | දිලිහි |
| ා, ා, ෙ, ් | ආකාසේ | ආකාසේ |
| ු, ෑ | කළුවර රෑ | කළුවර රෑ |
| ්, ්, ැ | ගන්නත් බැ | ගන්නත් බැ |
| ි, ෙ, ් | අයියේ | අයියේ |
| ි, ්, ි, ් | පරිස්සමින් | පරිස්සමින් |
| ු, ු | දකුණු | දකුණු |

| | | |
|---|---|---|
| ෙ, ැ, ් | දෙපැත්ත | දෙපැත්ත |
| ා, ැ, ෙ, ු | මාරුවෙමු | මාරුවෙමු |
| ූ, ු, ් | කූඩුවක් | කූඩුවක් |
| ු, ්, ් | ප්‍රදර්ශනයක් | ප්‍රදර්ශනයක් |
| ා, ්, ා, ෙ ් | බාප්පලාගේ | බාප්පලාගේ |
| ැ, ා, ෙ, ් | කරුණාවෙන් | කරුණාවෙන් |
| ි, ෙ ් | නිවේදනය | නිවේදනය |
| ි, ි, ැ, ී, ෙ ් | පිළිගැනීමේ | පිළිගැනීමේ |
| ්, ෙ ා | ඔක්කොම | ඔක්කොම |

| | | |
|---|---|---|
| ෙ, ් | දෙයක් | දෙයක් |
| ැ, ්, ී, ් | දැන්වීම් | දැන්වීම් |
| ්, ෙ ා්, ෙ ් | ඉස්කෝලේ | ඉස්කෝලේ |
| ෙ, ි, ් | කෙළින් ම | කෙළින් ම |
| ් | ඉඳගන්න | ඉඳගන්න |
| ු, ් | කඳවුරක් | කඳවුරක් |
| ා , ්, ෙ ් | තාත්තේ | තාත්තේ |
| ු, ු | කුඹුර | කුඹුර |
| ෑ, ැ, ්, ් | දෑකැත්තක් | දෑකැත්තක් |

| | | |
|---|---|---|
| ු, ්, ා, ් | පුස්තකාලයක් | පුස්තකාලයක් |
| ූ, ා, ් | සූදානම් | සූදානම් |
| ්, ්, ෙ ් | පටන්ගන්නේ | පටන්ගන්නේ |
| ෙ ්‍ර ්, ි, ෙ ් | ශ්‍රේණියේ | ශ්‍රේණියේ |
| ි, ්, ා | අනිද්දා | අනිද්දා |
| ී, ෙ ා ්, ි | නීරෝගි | නීරෝගි |
| ්, ෙ ා ්, ි | සන්තෝසයි | සන්තෝසයි |
| ි, ි, ා | බිලිඳා | බිලිඳා |
| ැ, ු, ් | රැවුලක් | රැවුලක් |

# 01 අලුත් ගෙදර



අන්න පුංචි අම්මා ඇවිත්.

ඔව් දුවේ, ඉක්මන් කරන්න.

නැන්දලාගේ ගෙදර යන්න ද?

ඔව්, ලෑස්ති වෙන්න.

කීයට ද යන්නේ?

අපි උදේ හයට පිටත් වෙනවා.

කෝ මගේ අලුත් ඇඳුම්?

පුටුව උඩ බලන්න.

මල්ලී, මගේ ඔරලෝසුව දැක්කා ද?

මේසේ උඩ තියෙනවා.

අන්න බාප්පා වෑන් එකෙන් ආවා.

ඉක්මනට එන්න.

පුංචි අම්මා **තෑග්ගක්** ගත්තා ද?

ඔව්. මේ තියෙන්නේ.

ආ.... **පිත්තල** පහනක්.

පහන ලස්සනයි.

යමු, යමු. **ඉක්මන් කරන්න.**

අන්න නැන්දලාගේ ගෙදර.



අලුත් ගෙදර හරි ම ලස්සනයි.

නැන්දායි, මාමායි එනවා.

එන්න එන්න ගේ ඇතුළට යමු.

අපිට හරි **සන්තෝසයි.**

අපිටත් සතුටුයි.

ක්‍රියාකාරකම 01

## පිළිතුර තෝරා කියමු. ලියමු.
விடையைத் தெரிவு செய்து கூறுவோம். எழுதுவோம்.

i පුංචි අම්මලා ආවේ කොහේ යන්න ද?

(ආච්චිලාගේ ගෙදර/මාමලාගේ ගෙදර/ නැන්දලාගේ ගෙදර)

ii පිටත් වෙන්නේ කීයට ද ?

(හතට/හයට/පහට)

iii අලුත් ඇඳුම් තිබුණේ කොහේ ද ?

(පුටුව උඩ /මේසය උඩ /අල්මාරියේ)

iv වෑන් එකෙන් ආවේ කවුද ?

(තාත්තා/මාමා/බාප්පා)

v පුංචි අම්මා ගත්ත තෑග්ග මොකක් ද ?

(පහනක්/ඔරලෝසුවක්/මල් බඳුනක්)

ක්‍රියාකාරකම 02



## සුදුසු අකුර යොදමු.

பொருத்தமான எழுத்தை இடுவோம்.

| | | |
|---|---|---|
| i | තෑ.........ගක් | ග්, ක් |
| ii | උ.......සවයක් | ස්, ත් |
| iii | පි........තල | ස්, ත් |
| iv | නැ........දා | ද්, න් |
| v | ල.........සනයි. | ච්, ස් |

ක්‍රියාකාරකම 03

## පාඩමෙන් සොයා කියමු.

பாடத்திலிருந்து தெரிவு செய்து சொல்வோம்.

i අන්න.................... ඇවිත්.

ii අපි......................... පිටත් වෙනවා.

iii මල්ලී මගේ ................ දැක්කා ද ?

iv අන්න........................ වෑන් එකෙන් ආවා.

v අලුත් ........................... ලස්සනයි.



ක්‍රියාකාරකම 04

**සුදුසු පද යොදා හිස්තැන් පුරවමු.**

பொருத்தமான சொல்லைப் பயன்படுத்தி இடைவெளிகளை நிரப்புவோம்.

i ........................... පහන

ii ........................... ගෙදර

iii ............................ අම්මා

iv ........................... ඇඳුම්

v ............................ ලස්සනයි.

## ක්‍රියාකාරකම 05



**සුදුසු වචන යොදා පින්තූර ගළපමු. කියවමු. ලියමු.**

பொருத்தமான சொல்லைப் பயன்படுத்தி படங்களை ஒழுங்குபடுத்துவோம். எழுதுவோம். வாசிப்போம்.

| | | |
|---|---|---|
| අලුත් |  | ලස්සනයි |
| 1. .................. |  | .................. |
| 2. .................. |  | .................. |
| 3. .................. |  | .................. |

4. ...................



...................

(මගේ, තියෙනවා, කොහේ ද?, උඩ තිබෙනවා, මේසය උඩ, ගත්තා, පුංචි අම්මා, අලුත් ඇඳුම්)

## වචන මාලාව

| | | |
|---|---|---|
| පුංචි අම්මා | - | சித்தி/சின்னம்மா |
| ඉක්මන් කරන්න | - | விரையுங்கள் |
| ලෑස්ති වෙන්න | - | தயாராகுங்கள் |
| හයට | - | ஆறு மணிக்கு |
| අලුත් ඇඳුම් | - | புதிய ஆடைகள் |
| ඔරලෝසුව | - | கடிகாரம் |
| තෑග්ගක් | - | ஒரு பரிசு |
| පිත්තල පහනක් | - | பித்தளை விளக்கு |
| අලුත් ගෙදර | - | புதிய வீடு |
| නැන්දලාගේ | - | மாமியின்/அத்தையின் |
| සන්තෝසයි | - | சந்தோசம் |
| සතුටුයි | - | சந்தோசம் |

# 02 අපටත් පුස්තකාලයක්

අන්න බලන්න ලස්සනයි, අපටත් පුස්තකාලයක්.

අමාලි, රසිකා, එන්න යමු.

ඇයි වාසනා?

යමු, උත්සවයට තේ මේසය සූදානම් කරමු.



යමු යමු.

අන්න අරයා එනවා

ආ...... වාසනා, එයාටත් එන්න කියන්න.

අමාලි, **කෙසෙල් ගෙඩි** ටික ගන්න.

ආ..... මෙන්න.

රසිකා, ඔය **කෑවුම් පිඟාන** ගේන්න.

ආ....හරි, **අතන** තියන්න.

වාසනා, **අලුවා මෙතන** තියෙනවා.

ඒක **මේසය** උඩින් තියන්න.

අමාලි, **දොදොල්, කොකිස්** තියෙනවා ද බලන්න.

ඔව් ඔව් වාසනා, ඔක්කොම හරි.

පලතුරු බීම ?

රසිකා ඒවා **ඔයා මෙයා** එක්ක **හදන්න.**

පලතුරු ටික **ගේන්න.**

කෝප්ප...?

අර **අතන** තියෙනවා

වාසනා, උත්සවය **පටන්ගන්නේ** කීයට ද?

උත්සවය දහයට.

හරි, අපි ඉක්මනට බීම හදාගෙන එන්නම්.

යමු යමු.

## ක්‍රියාකාරකම 01

**පිළිතුරු කියමු.**
விடை கூறுவோம்.

i සංග්‍රහය සූදානම් කළ අය කවුරුන් ද?

ii සංග්‍රහයට තිබුණේ මොනවා ද?

iii රසිකලා හදපු බීම වර්ගය මොකක් ද?

iv පාඩමේ සඳහන් උත්සවය කුමක් ද?

v උත්සවය පටන් ගන්නේ කීයට ද?

## ක්‍රියාකාරකම 02

**වාක්‍ය හදමු. කියවමු.**
வசனங்களை அமைப்போம். வாசிப்போம்.

අතන
මෙතන

කොකිස්
කැවුම්
කෙසෙල් ගෙඩි
දොදොල්
අලුවා

තියන්න
හදනවා
හදන්න

## ක්‍රියාකාරකම 03

**හිස්තැන් පුරවමු.**

இடைவெளிகளை நிரப்புவோம்.

i තේ .................... සූදානම් කරමු.

ii අමාලි ....................... ටික ගන්න.

iii රසිකා ඔය කැවුම් .............. ගේන්න.

iv වාසනා ......................... අලුවා තියෙනවා.

v ඒක ............................. උඩින් තියන්න.

## ක්‍රියාකාරකම 04

**ගළපා කියමු.**

இணைத்துக் கூறுவோம்.

i අතන  තියෙනවා.

ii මෙතන  තියෙනවා.

iii අරයා  ගේනවා.

iv මෙයා  හදනවා.

v ඔයා  ගේන්න.

## ක්‍රියාකාරකම 05

**සම්පූර්ණ කරමු. ලියමු.**

பூர்த்தி செய்வோம். எழுதுவோம்.

i අ.....න ......යෙනවා.

ii මෙත..... ති......නවා.

iii අ......යා ......යන්න.

iv මෙ...... එක්ක ......දන්න.

v ......යා ......ලතුරු ගේන්න.

ති, කි, යා,
හ, ප, ර, ත,
න, යෙ, ඔ

## වචන මාලාව

| | | |
|---|---|---|
| පුස්තකාලයක් | - | ஒரு நூலகம் |
| මේසය | - | மேசை |
| සූදානම් | - | தயார் |
| අරයා | - | அவர் |
| කෙසෙල් ගෙඩි | - | வாழைப்பழம் |
| කැවුම් පිඟාන | - | பலகாரத் தட்டு |
| අතන | - | அங்கே |
| මෙතන | - | இங்கே |
| දොදොල් | - | தொதொல் |
| කොකිස් | - | கொக்கிஸ் |
| ඔයා | - | நீங்கள் |
| මේක | - | இதனை |
| හදන්න | - | செய்யுங்கள் |
| ගේන්න | - | கொண்டுவாருங்கள் |
| පටන්ගන්නේ | - | ஆரம்பமாவது |
| එන්නම් | - | வருகின்றேன் |

# 03 අපි ඉස්කෝලේ යනවා

නංගි, අන්න බස් එක එනවා.

ඔව් අයියේ, එන්න එන්න.

බස් එකට නගින්න.

පිටිපස්සෙන් නගින්න.

කවුරුවත් පොර කන්න එපා.

එක එක්කෙනා නගින්න.

නැග්ග අය ඉස්සරහට යන්න.

හා... ළමයි. ටිකට් ගන්න.

මාමේ ! මට දහයේ ටිකට් එකක් දෙන්න.

නංගි, මෙතනින් ඉඳගන්න.



ළමයි, බෑග් ගලවන්න.

උඩින් තියන්න.

ළමයි, ඔය ආච්චිට සීට් එකක් දෙන්න.

බහින අය ඉස්සරහින් බහින්න.

නංගි, බෑග් එක අතට ගන්න.

බහින ළමයි ඉස්සරහට යන්න.

පරිස්සමින් බහින්න නංගි.

එන්න නංගි, දකුණු පැත්තෙන් යමු.

අයියේ, කහ ඉරෙන් පාර මාරු වෙමු.

ඔව් නංගි, එන්න එන්න.

දෙපැත්ත බලමු.

දැන් පාර මාරු වෙමු.



ඔන්න බෙල් එක ගහන්න ළඟයි.

ඉක්මනට යමු.

ක්‍රියාකාරකම 01

## නිවැරදි පිළිතුර තෝරමු. ලියමු.

சரியான விடையைத் தெரிவு செய்வோம். எழுதுவோம்.

i බස් එකට නගින්න කිව්වේ කොහෙන් ද?

(ඉස්සරහින්, පස්සෙන්, මෙතනින්.)

ii බැග් තියන්න කිව්වේ කොහේ ද?

(ඉස්සරහින්, පස්සෙන්, උඩින්.)

iii සීට් එකක් දෙන්න කීවේ කාට ද?

(ළමයින්ට, ආච්චිට, මට)

iv බස් එකෙන් බහින්න කීවේ කොහෙන් ද?

(ඉස්සරහින්, පස්සෙන්, උඩින්.)

v අයියා නංගිට ඉඳගන්න කීවේ කොහේ ද?

(අතනින්, මෙතනින්, එතනින්.)

## ක්‍රියාකාරකම 02

### පිළිවෙළට කියවමු/ලියමු.

ஒழுங்குபடுத்தி வாசிப்போம். எழுதுவோம்.

i යමු/පැත්තෙන්/දකුණු ..................................

ii පාර/කහ ඉරෙන්/මාරු වෙමු ..................................

iii එපා/නගින්න/ඉස්සරහින් ..................................

iv පිටිපස්සෙන්/එපා/බහින්න ..................................

v එපා/යන්න/පා පුවරුවේ ..........................

## ක්‍රියාකාරකම 03

### චිත්‍ර බලමු. වගන්ති ලියමු.

படங்களைப் பார்ப்போம். வாக்கியங்கள் எழுதுவோம்.



i ළමයි ..............................
ගලවන්න. උඩින් තියන්න.



ii ................................ සීට් එකක් දෙන්න.



iii ................................ පොර කන්න එපා.



iv .................. පාර මාරු වෙමු.



v.......................... යමු.

ක්‍රියාකාරකම 04

## ගළපමු/කියවමු/ලියමු

இணைப்போம். வாசிப்போம். எழுதுவோம்.

| | |
|---|---|
| i එන්න | බහින්න |
| ii දකුණු පැත්තෙන් | පිටිපස්සෙන් |
| iii නගින්න | ගන්න |
| iv ඉස්සරහින් | යන්න |
| v දෙන්න | වම් පැත්තෙන් |

ක්‍රියාකාරකම 05

## වචන තෝරා හිස්තැන් පුරවමු. කියමු. ලියමු.

சொற்களை தெரிந்து, இடைவெளி நிரப்புவோம். வாசிப்போம். எழுதுவோம்.

(i) .......... එකට නගින්න.

(ii) නංගි මෙහෙට ..............

(iii) පාරේ.......................... යමු.

(iv) ..................... බහින්න.

(v) ආච්චිට ................ දෙන්න.

(vi) ............. බිමට බහින්න.

(vii) ..................ඉස්සරහට යන්න.

(viii) ................වම් පැත්තෙන් නොයමු.

(ix) ................... නගින්න.

(x) ................. අතට ගන්න.

(බස් එකෙන්/ පාරේ/ බැග් එක/ පිටි පස්සෙන්/නංගි/ සීට් එකක්/ඉස්සරහින්/ දකුණු පැත්තෙන්/එන්න/බස්)

## වචන මාලාව

| | | |
|---|---|---|
| අයියේ | - | அண்ணா |
| ටිකට් | - | டிக்கெட் |
| දහයේ | - | பத்து ரூபாய் |
| සීට් | - | ஆசனம் |
| බෑග් | - | பை |
| පරිස්සමින් | - | கவனமாக |
| දකුණු | - | வலது |
| පැත්තෙන් | - | பக்கமாக |
| දෙපැත්ත | - | இரு பக்கம் |
| පාර මාරුවෙමු | - | வீதியை கடப்போம் |
| බෙල් | - | மணி |

# 04 අපේ පාසල

ආයුබෝවන් ගුරුතුමී.

ආයුබෝවන් ළමයි.

අද මම ඔයාලට

ලස්සන **පින්තූරයක්** පෙන්වනවා.

ඒකෙ තියෙන දේවල්

කියන්න ඕනෑ.

පස්සෙ අපි ඒවා ලියමු.

දැන් බලන්න

මේ **පින්තූරය**,

මේක ඇඳලා තියෙන්නේ

හත ශ්‍රේණියේ ළමයෙක්.






පින්තූරය හරි ම ලස්සනයි ගුරුතුමී.

හොඳයි, දැන් සමන් කියන්න මේකෙ තියෙන දේවල්.

මේක **පාසලක** පින්තූරයක්,

**ගොඩනැගිලි** කිහිපයක් තියෙනවා.

හරි, කුමාර් කියන්න බලන්න.

මේ පාසලේ **පිට්ටනියක්** තියෙනවා,

වතුර ටැංකියක් තියෙනවා.

පබසරා, ඔයාට මොනවා ද පේන්නේ?

ළමයි දෙන්නෙක් **පිට්ටනියේ** දුවනවා,

බුදු මැදුරක් තියෙනවා,

පුස්තකාලයක් තියෙනවා.

**සුජානි,** ඔයා කියන්න.

ලස්සන **මල් පාත්ති** තියෙනවා.

එක ළමයෙක් ගහක් යට ඉන්නවා.

එයා **මොනවාදෝ ලියනවා.**

තවත් ළමයි ටිකක් බෝල ගහනවා.

**රාධිකාට** මොනවා ද කියන්න පුළුවන්?

**පිට්ටනිය** ළඟ **ගෙවතු වගාවක්** තියෙනවා,

**ළිඳක්** තියෙනවා.

ක්‍රියාකාරකම 01

## කියමු. ලියමු.

சொல்வோம். எழுதுவோம்.

i  චිත්‍රයේ පෙනෙන්නේ කුමක් ද?

ii  පබසරා කිව්වේ මොනවා ද?

iii  චිත්‍රය ඇඳ ඇත්තේ කීවැනි ශ්‍රේණියේ ළමයෙක් ද?

iv  “ලස්සන මල් පාත්ති තියෙනවා” කිව්වේ කවුද?

v  ගහක් යට ඉන්න ළමයා කරන්නේ මොකක් ද?

ක්‍රියාකාරකම 02

## පින්තූරය බලමු. ලියමු.
படத்தைப் பார்ப்போம். எழுதுவோம்.

i  ........................................

ii  ............................................

iii  .............................................

iv  ..............................................

v  .........................................

### ක්‍රියාකාරකම 03

## කියවමු. ලියමු.

வாசிப்போம். எழுதுவோம்.

i පිට්ටනියක් තියෙනවා.

ii වතුර ටැංකියක් තියෙනවා.

iii ගොඩනැගිලි කිහිපයක් තියෙනවා.

iv බුදු මැදුරක් තියෙනවා.

v පුස්තකාලයක් තියෙනවා.

vi මල් පාත්ති තියෙනවා.

vii ගෙවතු වගාවක් තියෙනවා.

viii ළිඳක් තියෙනවා.

ix ළමයෙක් ඉන්නවා.

x ළමයි දෙන්නෙක් දුවනවා.

## ක්‍රියාකාරකම 04

# කියමු. ලියමු.

சொல்வோம். எழுதுவோம்.

මම
අපි
ගුරුතුමිය
ළමයෙක්
ළමයි දෙන්නෙක්

→ ලියනවා.

i ..........................................................

ii ..........................................................

iii ..........................................................

iv ..........................................................

v ..........................................................




## වගුව සම්පූර්ණ කරමු. ලියමු.

அட்டவணையைப் பூர்த்தி செய்வோம். எழுதுவோம்.

| | ඉන්නවා | තියෙනවා |
|---|---|---|
| i ගහක් | | ✓ |
| ii ළමයෙක් | ✓ | |
| iii බුදු මැදුරක් | | |
| iv පුස්තකාලයක් | | |
| v ගුරුතුමිය | | |
| vi පිට්ටනියක් | | |
| vii ළිඳක් | | |
| viii කුමාර් | | |
| ix ගෙවතු වගාවක් | | |
| x බල්ලෙක් | | |

i ...................................................................................

ii ...................................................................................

iii ...................................................................................

iv ...................................................................................

v ...................................................................................

vi ...............................................................................

vii .........................................................................

viii .........................................................................

ix ...............................................................................

x ...............................................................................

## වචන මාලාව

| | | |
|---|---|---|
| මම | - | நான் |
| අපි | - | நாங்கள் |
| ඔයාලට | - | உங்களுக்கு |
| පින්තූරයක් | - | ஒருபடம் |
| දේවල් | - | உள்ளவை |
| පින්තූරය | - | படம் |
| ශ්‍රේණියේ | - | தரத்தில் |
| පාසලක | - | ஒரு பாடசாலையில் |

| | | |
|---|---|---|
| ගොඩනැගිලි | - | கட்டிடங்கள் |
| පිට්ටනියක් තියෙනවා | - | மைதானமொன்று உண்டு |
| පිට්ටනියේ දුවනවා | - | மைதானத்தில் ஓடுகின்றார்கள் |
| මල් පාත්ති තියෙනවා | - | பூப்பாத்திகள் உள்ளன |
| මොනවාදෝ | - | ஏதோ/என்னவோ |
| ලියනවා | - | எழுதுகின்றார்கள் |
| පිට්ටනිය | - | மைதானம் |
| ගෙවතු වගාවක් තියෙනවා | - | வீட்டுத் தோட்டம் உண்டு |
| ළිඳක් තියෙනවා | - | கிணறு ஒன்று உள்ளது |

# 05 වෙසක් කූඩුවක් හදමු.

රවිඳු, අපි වෙසක් කූඩුවක් හදමු ද?

ආ... ඒක හොඳයි. පියල්, ටීචර් කිව්වා නේ ද? ප්‍රදර්ශනයක් තියෙනවා කියලා?



ඔව් ඔව්. කවදා ද තියෙන්නේ?

පෝය දවසේ හවස.

හරි, කොහොම ද අපි වෙසක් කූඩුවක් හදන්නේ?

මම දන්නවා අටපට්ටම් කූඩු හදන්න.

අපේ තාත්තාත් දන්නවා,

තාත්තා අපට උදවු කරයි.

එහෙනම් අපි හදමු.

දැන් මොනවා ද ඕන කරන්නේ?

උණ බට, පාප්ප, නූල්, සව්කඩදාසි අපට ඕන.

හරි හරි. මම කඩේ ගිහිල්ලා අරගෙන එන්නම්.

ආ..... එහෙනම් ඔයා ගේන්න.

කොහේ ද උණ බට තියෙන්නේ?

බාප්පලාගේ ඇළ ළඟ තියෙනවා.

කවුද කපන්නේ? මම කපන්නම්.

අන්න බාප්පා එනවා.

අපි බාප්පාගෙන් අහමු.

දුවමු දුවමු.

**ක්‍රියාකාරකම 01**

## කියවමු. ලියමු.
வாசிப்போம். எழுதுவோம்.

i ටීචර් කියූ ප්‍රදර්ශනය මොකක් ද ?

ii ප්‍රදර්ශනය තියෙන්නේ කවදා ද ?

iii ප්‍රදර්ශනයට හදන්නේ මොකක් ද ?

iv වෙසක් කූඩු හදන්න අවශ්‍ය වන්නේ මොනවා ද?

v බාප්පලාගේ ඇළ ළඟ තියෙන්නේ මොනවා ද?

**ක්‍රියාකාරකම 02**

## ගළපමු. කියමු.
ஒழுங்குபடுத்துவோம். வாசிப்போம்.

i හදමු/වෙසක් කූඩුවක්/අපි

ii දන්නවා/මම/වෙසක් කූඩු/හදන්න

iii උදවු කරනවා/තාත්තා/අපට

iv එනවා/බාප්පා/අන්න

v ඇළ ළඟ/තියෙනවා/බාප්පලාගේ/උණ බට

## ක්‍රියාකාරකම 03

# කියවමු. ලියමු.
வாசிப்போம். எழுதுவோம்.




i මම වෙසක් කූඩුවක් හදමි.

අපි වෙසක් කූඩුවක් හදමු.

ii ....................................................................................

....................................................................................

iii ....................................................................................

....................................................................................

iv ..........................................................................................

..........................................................................................

v ..........................................................................................

..........................................................................................

ක්‍රියාකාරකම 04

## කියවමු.

வாசிப்போம்.

i වෙසක් කූඩුවක් හදමු ද ?

ii ප්‍රදර්ශනය තියෙන්නේ කවදා ද ?

iii කොහොම ද හදන්නේ ?

iv මොනවා ද ඕන කරන්නේ ?

v ඔයා සව්කඩදාසි ගේන්න.

vi කොහේ ද උණ බට තියෙන්නේ?

vii කවුද උණ බට කපන්නේ?

viii බාප්පාගෙන් අහමු.



ක්‍රියාකාරකම 05

## සම්පූර්ණ කරමු. කියමු.

நிரப்புவோம். வாசிப்போம்.

i මොනවාද ඕනෑ?

පාප්ප .......ඕනෑ.......
නූල් ........................
උණ බට ........................

ii මොනවාද තියෙන්නේ?

පාප්ප .......තියෙනවා.......
නූල් ........................
උණ බට ........................
සව්කඩදාසි ..................

iii මොනවාද ගේන්නේ?

පාප්ප .......ගේනවා.......
නූල් ........................
උණ බට ........................
සව්කඩදාසි ..................

iv ඔයා ගේන්න.

පාප්ප .......ගේන්න.......
නූල් ........................
උණ බට ........................
සව් කඩදාසි ..................

v කවුද දන්නේ? රවිඳු ...දන්නවා...
පියල් ........................
තාත්තා ....................
බාප්පා .....................

vi කවුද හදන්නේ? අපි ...හදනවා...
තාත්තා....................
රවිඳු ........................
පියල් ........................
බාප්පා .....................

## වචන මාලාව

| | | |
|---|---|---|
| වෙසක් කූඩුව | - | வெசாக் கூடு |
| ප්‍රදර්ශනයක් | - | ஒரு கண்காட்சி |
| තියෙන්නේ | - | இருப்பது |
| කොහොම ද? | - | எப்படி ? |
| කරන්නේ | - | செய்வது |
| උණ බට | - | மூங்கில் துண்டுகள் |
| පාප්ප | - | பசை |
| නූල් | - | நூல் |
| සව්කඩදාසි | - | நிறக் கடதாசி |
| කඩේ | - | கடை |
| බාප්පලාගේ | - | சித்தப்பாவின் |
| තියෙනවා | - | உள்ளது, உள்ளன. |
| කපන්නේ | - | வெட்டுவது |
| කපන්නම් | - | வெட்டுவேன் |
| බාප්පාගෙන් | - | சித்தப்பாவிடம் இருந்து |

# 06 අපේ විනෝදාංශ

ආයුබෝවන් දුවලා, පුතාලා.

ආයුබෝවන් **ටීචර්.**

පුතාලා, අද අපි **පිට්ටනියේ කොස් ගහ** යටට යමු.

හරි හරි යමු ටීචර්.



අද අපි කතා කරමු අපේ විනෝදාංශ ගැන.

මම ආසයි රෑ අහසේ තරු රටා බලන්න.

තව, මම කැමතියි හැමදා ම උදේට සතුන්ට කෑම දෙන්න.

හොඳයි, දැන් සුමුදු කියන්න ඔයාගේ විනෝදාංශ.

ටීචර්, මම ගොඩක් කැමතියි රූපවාහිනියේ වැඩසටහන් බලන්න. මුහුදු පැළෑටි ගැන, සත්තු ගැන වැඩසටහන් බලන්නත් ආසයි.

ටීචර්, මම ආසයි අම්මායි තාත්තායි එක්ක විනෝද ගමන් යන්න. එතකොට මට දිය ඇලි, වනාන්තර, වැව් බලන්නත් පුළුවන්.

බොහොම හොඳ විනෝදාංශනේ සමන් ඔයාට තියෙන්නේ.

හොඳයි, සනුමිත් කියන්න.

මම සිංහල ළමා ගීත අහන්නත්, ගායනා කරන්නත් ආසයි.

ගයාන්, කියන්න පුතා.

මමත් කැමතියි ටීචර්, ගෙවතු වගා කරන්න.

හරි, අපි දැන් විනෝදාංශ ගැන කතා කළා.

හොඳයි, එහෙනම් අපේ විනෝදාංශ එකතු කරලා පුංචි පොතක් හදමු.

**ක්‍රියාකාරකම 01**

**හිස්තැන් පුරවමු.**

வெற்றிடங்களை நிரப்புவோம்.

i පංතියේ ළමුන් පාඩම සඳහා ................................ යටට ගියා.

ii ......................... ටීචර්ගේ විනෝදාංශයකි.

iii රූපවාහිනී වැඩසටහන් බලන්න .................... කැමතියි.

iv සනුමිගේ විනෝදාංශය ....................................

v විනෝදාංශ එකතු කරලා........................ හදමු.

**(කොස් ගහ, සුමුදු, ගීත ගායනා කිරීම, පුංචි පොතක්, රෑ අහසේ තරු රටා බැලීම.)**

## ක්‍රියාකාරකම 02

# කියවමු. ලියමු.

வாசிப்போம். எழுதுவோம்.




| මගේ විනෝදාංශය | මම ආසයි/මම කැමතියි |
|---|---|
| මගේ විනෝදාංශය විනෝද ගමන් යාම. | මම ආසයි විනෝද ගමන් යාමට.<br>මම කැමතියි විනෝද ගමන් යාමට. |
| i ............................................................. | .............................................................<br>............................................................. |
| ii ............................................................. | .............................................................<br>............................................................. |

| | |
|---|---|
| iii ............................................................ | ............................................................<br>............................................................ |
| iv ............................................................ | ............................................................<br>............................................................ |
| v ............................................................ | ............................................................<br>............................................................ |

## ක්‍රියාකාරකම 03

## යා කරමු.

இணைப்போம்.



තරු රටා බැලීම



පොත් කියවීම



ගීත ගායනය



රූපවාහිනිය නැරඹීම



සතුන්ට කෑම දීම

## ක්‍රියාකාරකම 04

# වගුව සම්පූර්ණ කරමු.
அட்டவணையைப் பூர்த்தி செய்வோம்.

| නම<br>பெயர் | විනෝදාංශ<br>பொழுதுபோக்கு |
|---|---|
| ටීචර් | 1. අහසේ තරු රටා බැලීම.<br>2. .............................................<br>3. ............................................. |
| සුමුදු | 1. .............................................<br>2. .............................................<br>3. ............................................. |
| සමන් | 1. .............................................<br>2. .............................................<br>3. ............................................. |

| | |
|---|---|
| සනුමි | 1. ............................................<br>2. ............................................ |
| ගයාන් | 1 ............................................ |

**ක්‍රියාකාරකම 05**

## තවත් විනෝදාංශ පහක් ලියමු.

மேலும் ஐந்து பொழுதுபோக்குகளை எழுதுவோம்.

1. ..................................................................................
2. ..................................................................................
3. ..................................................................................
4. ..................................................................................
5. ..................................................................................

## වචන මාලාව

| | | |
|---|---|---|
| ආයුබෝවන් | - | வணக்கம் |
| ටීචර් | - | டீச்சர் |
| පිට්ටනියේ | - | மைதானத்தில் |
| කොස් ගහ | - | பலா மரம் |
| කතා | - | கதைகள் |
| උදේට | - | காலையில் |
| සතුන්ට | - | விலங்குகளுக்கு |
| කෑම | - | உணவு |
| කැමතියි | - | விருப்பம் |
| වැඩසටහන් | - | நிகழ்ச்சிகள் |
| එතකොට | - | அப்போது |
| වැව් | - | குளங்கள் |
| හොඳයි | - | நல்லது |

# 07 අපි ගමේ යනවා

තාරුකා, අපි මේ සති අන්තේ ගමේ යනවා.

**ආච්චිලාගේ** ගෙදර.

අනේ ඇත්ත ද?

උදානි, ඔයාලගේ ගම **කොහේ ද?**

ගම බලපිටියේ.

**කොහොම ද** ඔයාලා යන්නෙ?

අපි යන්නෙ කෝච්චියෙන්...

ආච්චිලාගේ ගෙදර කවුද ඉන්නේ ?

ආච්චියි, සීයායි, පුංචි අම්මායි, බාප්පායි.



ලොකු අම්මාත් ඉන්නේ ඒ ගෙදරම යි.

ගමේ ගියා ම ඔයා මොනවා ද කරන්නෙ?

අපි ඇළේ නානවා.

වතුරට පනිනවා,

පීනනවා.



අපි සීයායි ආච්චියි නාවනවා.

ආච්චි රස කෑම ජාති උයනවා.

ආච්චි හදන තිබ්බටු වෑංජනේට

කජුයි, කොස් ඇටයි දානවා.

ඒවා කන්න මම හරි ම ආසයි.

ලොකු අම්මා රසට කොස් උයනවා.

අපට ලොකු අම්මායි, ආච්චියි, අම්මායි කෑම කවනවා.

ඔයාලා එහේ කොහේ ද සෙල්ලම් කරන්නෙ?

ආච්චිලාගේ වත්ත පහළ වෙලක් තියෙනවා.

අපි එතැන සෙල්ලම් ගෙයක් දානවා.

මල්ලිලා ක්‍රිකට් ගහනවා.

වෙරළු කඩනවා,

අඹ කඩනවා.

අනේ තාරුකා

ඔයත් එන්නකෝ

අපේ ගමේ යන්න

අපි ඔයාලගේ

අම්මාගෙන් අහමු.

හරි යමු යමු.



## ක්‍රියාකාරකම 01



### සොයමු. ලියමු.

தேடுவோம். எழுதுவோம்.

i උදානි යන්නේ කොහේ ද ?

ii එයාලා යන්නේ මොකෙන් ද ?

iii ආච්චිලාගේ ගෙදර ඉන්නේ කවුරුන් ද ?

iv ගමේ ගියාම මොනවා ද කරන්නේ ?

v ආච්චි උයන රස ව්‍යංජනයට මොනවා ද දමන්නේ ?

## ක්‍රියාකාරකම 02



### අහමු. කියමු.

கேட்போம். வாசிப்போம்.

i ගමට යන්නේ ..........................

ii අපි නාන්නේ ..........................

iii අපේ ගම ..........................

iv ආච්චි උයන්නේ ..........................

v අපි කඩන්නේ ..........................

අඹ/බලපිටිය/කෝච්චියෙන්/ඇළේ/තිබ්බටු

## ක්‍රියාකාරකම 03

**අහමු. කියමු.**

கேட்போம். கூறுவோம்.

| | | |
|---|---|---|
| මම | කජු<br>අඹ<br>කෑම | කනවා. |
| අපි | ඇළේ<br>මුහුදේ<br>ගඟේ | නානවා. |
| උදානි | පිට්ටනියේ<br>වත්තේ<br>වෙලේ | සෙල්ලම් කරනවා. |
| අපි | ගමේ<br>ගෙදර<br>බලපිටියට | යනවා. |
| ආච්චිගේ | තිබ්බටු වෑංජනේ<br>කොස් වෑංජනේ<br>කෑම | කනවා. |

## ක්‍රියාකාරකම 04

**සම්පූර්ණ කරමු.**

நிரப்புவோம்.

i සීයායි ........................... නාවනවා.

ii පුංචි අම්මායි ........................... ඉන්නවා.

iii කජුයි .................................... දානවා.

iv ලොකු අම්මායි ............................. කෑම කවනවා.

v ලොකු අම්මාත් ................................ ඒ ගෙදරම යි.

**(ඉන්නේ, අම්මායි, කොස් ඇටයි, ආච්චියි, බාප්පායි)**

## ක්‍රියාකාරකම 05

**සම්පූර්ණ කරමු.**

நிரப்புவோம்.

කෑම .................... කෑම කැව්වා.

අඹ කනවා. අඹ ...................

වෙරළු ..................... වෙරළු ..................

වතුරට ..................... වතුරට .......................

ගමේ ..................... ගමේ ......................

**(යනවා, පතිනවා, කඩනවා, කැඩුවා, කෑවා, කවනවා, ගියා, පැන්නා)**

## වචන මාලාව

| | | |
|---|---|---|
| ආච්චිලාගේ | - | பாட்டியின் |
| කොහේ ද? | - | எங்கே |
| බලපිටියේ | - | பலப்பிட்டியில் |
| කොහොම ද? | - | எப்படி |
| කෑම ජාති | - | உணவு வகைகள் |
| තිබ්බටු | - | சுண்டக்காய் |
| ව්‍යංජනේට | - | கறிக்கு |
| ක්‍රිකට් | - | கிரிக்கெட் |
| වෙරළු | - | வெரலு |
| එන්නකෝ | - | வாருங்களேன். |

# 08 පුංචි රුවන් තාරකා



දිලිහි දිලිහි
ආකාසේ
බබළන මල්
තාරකා

බැබළි බැබළි
ආකාසේ
දිලිහෙන මල්
තාරකා

කළුවර රෑ
ආකාසේ
හිනැහ වෙවී
තාරකා

ගන්නත් බෑ
දෙන්නත් බෑ
පුංචි රුවන්
තාරකා

පද රචනය - ආනන්ද රාජකරුණා

ක්‍රියාකාරකම 01

**පිළිතුර තෝරමු. ලියමු.**

விடையைத் தெரிவு செய்வோம். எழுதுவோம்.

i මේ ගීතයෙන් කියවෙන්නේ ................................ ගැන ය.

ii අහසේ දිලිසෙන්නේ .................................... ය.

iii තාරකා බැබළෙන්නේ .................................... ය.

iv තාරකා පුංචි ...................................... වාගේ ය.

v තාරකා................... බෑ ........................... බෑ.

**(තාරකා/ රාත්‍රි කාලයක්/රුවන් /රෑ ආකාසේ/ ගන්නත් දෙන්නත්)**

ක්‍රියාකාරකම 02

**කියවමු.**

வாசிப்போம்.

| | | |
|---|---|---|
| i | දිලිහි දිලිහි | තාරකා. |
| ii | දිලිහෙන මල් | තාරකා. |
| iii | බැබළි බැබළි | තාරකා. |
| iv | බබළන මල් | තාරකා. |
| v | හිනහ වෙවී | තාරකා. |

## ක්‍රියාකාරකම 03

**සුදුසු වචනය යොදා හිස්තැන් පුරවමු. කියවමු.**
பொருத்தமான சொல்லைப் பாவித்து இடைவெளி நிரப்புவோம். வாசிப்போம்.

i. | දිලිහි දිලිහි | ...............

ii. | බබළන මල් | ...............

iii | බැබළි බැබළි | ...............

iv | හිනහ වෙවී | ...............

v | පුංචි රුවන් | ...............

ආකාසේ

තාරකා

## ක්‍රියාකාරකම 04

**නිවැරදි අකුර තෝරා ලියමු.**
சரியான எழுத்தை தெரிவுசெய்து எழுதுவோம்.

i. බැබ...........

ii.. ක..........වර

iii. දි...........හි

iv. දි..........හෙන

v. බබ..........න

ලි ළ

ළු ළි

ක්‍රියාකාරකම 05

## ලියමු. කියමු.

எழுதுவோம். வாசிப்போம்.

දිලිහෙයි

දිලිහි දිලිහි

දිලිහෙන

බබළන




බබළයි

බැබළෙයි

හිනැහෙයි

බැබළි බැබළි

හිනැහෙන

හිනහ වෙවී

i ....................................................................................

ii ....................................................................................

iii ....................................................................................

iv ....................................................................................

v ....................................................................................

vi ....................................................................................

vii ....................................................................................

viii ..........................................................................

ix ..........................................................................

x ..........................................................................

## වචන මාලාව

| | | |
|---|---|---|
| දිලිහි | - | மின்னி |
| ආකාසේ | - | வானத்தில் |
| කළුවර | - | இருள் |
| බබළන | - | மின்னுகின்ற |
| හිනහවෙවී | - | சிரித்துக்கொண்டு |
| පුංචි රුවන් | - | சிறிய இரத்தினம் |
| තාරකා | - | நட்சத்திரங்கள் |

# 09 අපට නිවේදනයක්

මාලා,... පොඩ්ඩක් ඉන්න.
අන්න... **නිවේදනයක්** ඇහෙනවා.
අහමු අහමු රේණුකා, මොකක් ද කියලා.



“**කරුණාවෙන්** සවන්දෙන්න. මේ **නිවේදනය** අප විදුහලේ මෙවර ක්‍රීඩා උත්සවයේ, **පිළිගැනීමේ** ගීතය හා නැටුම් සඳහා සහභාගි වන, සියලු ම ශිෂ්‍ය ශිෂ්‍යාවන්ටයි! එම ශිෂ්‍ය ශිෂ්‍යාවන් සියලු දෙනා ම අද දින, ප. ව. 2.00ට ප්‍රධාන ශාලාව අසල නැටුම් කාමරයට පැමිණෙන ලෙස නැටුම් ගුරුතුමිය දන්වා සිටියි”.

එන්න, අපි යමු යමු.
කොහේට ද යන්නේ?
නැටුම් කාමරයට.
ගීතය පුරුදු කරන්නේ කොහේ ද?
නැටුමයි ගීතයයි දෙක ම නැටුම් කාමරයේ පුරුදු කරන්නේ.
එහෙනම් අපි ඔක්කොම නැටුම් කාමරයට යමු.
හරි අපි ඔක්කොම යමු.

ක්‍රියාකාරකම 01

## ගළපමු. කියවමු. ලියමු.

இணைப்போம். வாசிப்போம். எழுதுவோம்

i කරුණාවෙන්
ii ක්‍රීඩා උත්සවය
iii මට
iv සියලු දෙනා ම
v පුහුණුවක්

සහභාගිවන්න.
තියෙනවා.
පැවැත්වේ.
සවන්දෙන්න.
ඇහුණා.

**ක්‍රියාකාරකම 02**

## හිස්තැන් පුරවමු.

இடைவெளிகளை நிரப்புவோம்.

i මෙම නිවේදනයට සවන් දුන්නේ ........................ හා ........................ය.

ii පැවැත්වීමට නියමිත උත්සවය ........................

iii උත්සවය සඳහා මේ සිසුන් සහභාගි වන්නේ පිළිගැනීමේ ........................ හා ........................ ය.

iv ළමයි නැටුම් කාමරයට යා යුතු වේලාව .....................

v නැටුම් කාමරය තියෙන්නේ ........................ අසල ය.

## ක්‍රියාකාරකම 03

**නිවේදනයේ හිස්තැන් පුරවමු.**

அறிவித்தலின் இடைவெளிகளை நிரப்புவோம்.

කරුණාවෙන් ............................... (පැමිණෙන්න/ සවන්දෙන්න)

අප ............................... (ගමේ /නිවසේ) පැවැත්වීමට නියමිත........................ (බක්මහ උලෙළට/ මහා පෙරහැරට) සහභාගි වන සියලු ............................... (මගීන්/ගම්වාසීන්)ට යි. සියලු දෙනා ම ............................... (හෙට/ඊයේ) දින (පෙ.ව.9.00/ ප.ව. 9.00) ට ....................... (ක්‍රීඩා පිටියට/කෝවිලට) පැමිණෙන්න.

## ක්‍රියාකාරකම 04



**හිස්තැනට අදාළ අකුරු යොදමු.**

இடைவெளிகளுக்குப் பொருத்தமான எழுத்தை இடுவோம்.

i කරු_____ _____ න්

ii පි_____ගැ_____ම

iii නි_____ද_____ය

iv _____ෂ්‍යාවන්

v _____මර_____ට

## ක්‍රියාකාරකම 05

ශිෂ්‍ය සාහිත්‍ය සමිතියට සහභාගි වන මෙන් ඉල්ලමින් නිවේදනයක් ඉදිරිපත් කරන්න.
மாணவர் இலக்கிய மன்றத்திற்கு சமுகமளிக்குமாறு வேண்டி ஓர் அறிவித்தலை முன்வையுங்கள்.

## වචන මාලාව

| | | |
|---|---|---|
| නිවේදනයක් | - | ஓர் அறிவித்தல் |
| කරුණාවෙන් | - | தயவுசெய்து |
| නිවේදනය | - | அறிவித்தல் |
| පිළිගැනීමේ | - | வரவேற்பு |
| කොහේ ද? | - | எங்கே? |
| එහෙනම් | - | அப்படி என்றால் |
| ඔක්කොම | - | எல்லாம் |

# 10 ළමා අපට උපදෙස්

අද අපි අලුත් දෙයක් කරමු.
හරි හරි, මොන වගේ එකක් ද?
මගදී හමුවෙන උපදෙස් සහිත දැන්වීම් කියවමු.
හරි, අපි දැන් ම පටන් ගනිමු.
අන්න, මම එකක් දැක්කා.



මෙන්න, තවත් උපදෙස් දැන්වීම් කිහිපයක්.

"ජලය බීමට පමණයි"




"මෙහි ආහාර ගැනීමෙන් වළකින්න."

අන්න තවත් එකක්.

"මෙය පිරිසිදු ව තබා ගනිමු."

අන්න බස් එක එනවා.

නගිමු, නගිමු.

ආ.... මේ තවත් උපදෙස් දැන්වීම්.

“පා පුවරුවේ යාම තහනම්.”




“මාරු කාසි රැගෙන එන්න.”

“ගමන් මලු (බෑග්)  රාක්කය මත තබන්න.”



“ පූජ්‍ය පක්ෂය සඳහා වෙන්කර ඇත. ”




අන්න **ඉස්කෝලේ.**

හරි හරි දැන් බහිමු.

කහ ඉරෙන් පාර මාරු වෙමු.

අන්න බලන්න.

“කහ ඉරෙන් පාර මාරු වෙමු.”



අර බලන්න ලොකු අකුරෙන් ලියූ දැන්වීම්.
“ අවසර නැතුව ඇතුළු නොවන්න. ”

“නිශ්ශබ්ද වන්න.”

“මේ අපේ පාසලයි - එය රැක ගැනීම අප සතු යුතුකමයි.”



## ක්‍රියාකාරකම 01

**මෙම වචන ශබ්ද නඟා කියවමු.**
இந்த சொற்களை உரத்து வாசிப்போம்.



i පිරිසිදුව තබා ගනිමු.

ii පාර මාරු වෙමු.

iii අවසර නැතුව ඇතුළු නොවන්න.

iv කුණු දමන්න එපා.

v දුම් බීම තහනම්

## ක්‍රියාකාරකම 02

**සම්පූර්ණ කරමු. ලියමු. කියමු.**
நிரப்புவோம். எழுதுவோம். வாசிப்போம்.

i ජලය ................ පමණයි.

ii මෙහි............................ වළකින්න.

iii පා .............................. යාම තහනම්.

iv මාරු............................. එන්න.

v පූජ්‍ය.................... ....................... වෙන් කර ඇත.

**(පක්ෂය සඳහා/ පුවරුවේ/ කාසි රැගෙන/ ආහාර ගැනීමෙන්/ බීමට)**

## ක්‍රියාකාරකම 03

**කියමු. ලියමු.**

வாசிப்போம். எழுதுவோம்.

දුම්බීමෙන්
ඇතුළු වීමෙන්
ශබ්ද කිරීමෙන්
කෑ ගැසීමෙන්
ආහාර ගැනීමෙන්

→ වළකින්න.

කුණු දමන්න
පා පුවරුවේ යන්න
මෙහි ආහාර ගන්න
දුම් බොන්න
ඇතුළු වන්න

→ එපා.

- දුම්බීම
- ඇතුළු වීම
- කෑ ගැසීම
- ආහාර ගැනීම
- බීමට ගැනීම

→ **තහනම්**

- බීමට
- සේදීමට
- නෑමට

→ **පමණි.**

## ක්‍රියාකාරකම 04

# සම්පූර්ණ කරමු. කියවමු.

நிரப்புவோம். வாசிப்போம்.

i ............................................ තබා ගනිමු.

ii ............................................ පාර මාරු වෙමු.

iii ............................................ දමන්න එපා.

iv ............................................ පමණයි.

v ............................................ වළකින්න.

vi ............................................ ඇතුළු නොවන්න.

vii ............................................ යාම තහනම්.

viii ............................................ වෙන් කර ඇත.

ix ............................................ රැගෙන එන්න.

x ............................................ මත තබන්න.

ක්‍රියාකාරකම 05

## යා කරමු. කියවමු.
இணைப்போம். வாசிப்போம்.



කහ ඉරෙන් පාර මාරු වෙමු.



පා පුවරුවේ යාම තහනම්



ආහාර ගැනීමෙන් වළකින්න



කුණු කසළ දමන්න එපා



නිශ්ශබ්ද වන්න

## වචන මාලාව

| | | |
|---|---|---|
| අලුත් දෙයක් | - | புதியதொன்று |
| දැන්වීම් | - | அறிவித்தல் |
| උපදෙස් | - | அறிவுரைகள் |
| ගැනීමෙන් | - | எடுப்பதால் |
| රැගෙන | - | எடுத்துக்கொண்டு |
| ඉස්කෝලේ | - | பாடசாலை |
| ඇතුළු නොවන්න | - | உட்செல்லாதீர்கள் |

# 11 කාර්යාලය කොහේ ද?

දුව.... මට විදුහල්පතිතුමා හම්බ වෙන්න ඕනෑ.
කාර්යාලයට යන්නේ කොහොම ද?

මාමේ, මෙතනින් කෙළින් ම ගිහිල්ලා
දකුණට හැරෙන්න.
යනකොට අඹ ගහක් තියෙනවා.
කාර්යාලය තියෙන්නේ අඹ ගහ ඉස්සරහ.

බොහොම ස්තුතියි දුවේ.

ඔබතුමා කවුරු හම්බ වෙන්න ද ආවේ.?

විදුහල්පතිතුමා
හමුවෙන්න.

විදුහල්පතිතුමා
මේ වෙලාවේ
හමුවෙන්න පුළුවන් ද?



ටිකක් ඉන්න. විදුහල්පතිතුමා කාර්යාලයේ වැඩක්.
මෙතනින් ඉඳගන්න. මම  අහලා කියන්නම්.
බොහොම ස්තුතියි.

සර්, හම්බවෙන්න කවුද ඇවිත්.
හා..... ඇතුළට එන්න කියන්න.
එන්න වාඩිවෙන්න.
ආයුබෝවන් සර්.
ආයුබෝවන්, මොකක් ද කාරණාව කියන්න.
මම සුහද ග්‍රාම සංවර්ධන සමිතියේ සභාපති.
අපි ලේ දන් දීමේ කඳවුරක් සංවිධානය කළා.
ඔබතුමාට ආරාධනා පත්‍රයක් දෙන්නයි ආවේ.
කවදා ද තියෙන්නේ ?
සෙනසුරාදා.
හා.. හොඳයි කොහේ ද තියෙන්නේ?
ග්‍රාම සංවර්ධන සමිති ශාලාවේ.
ආරාධනා කළාට බොහෝ ම ස්තුතියි.
මම එන්නම් කඳවුරට.
බොහොම ස්තුතියි සර්.
මම ගිහින් එන්නම්.
හොඳයි. ගිහින් එන්න.

## ක්‍රියාකාරකම 01

**සොයමු. ලියමු.**
தேடுவோம். எழுதுவோம்.

i කෙළින් ම ගිහිල්ලා දකුණට ..........................

ii කාර්යාලය තියෙන්නේ ................................

iii මම සුහද ......................... සමිතියේ සභාපති.

iv කඳවුරක් ................................... කළා.

v ඔබතුමාට .................................... දෙන්නයි ආවේ.

## ක්‍රියාකාරකම 02

# වාක්‍ය හදමු. කියවමු.

வசனங்களை அமைப்போம். வாசிப்போம்.

ආවේ
හම්බවෙන්න ද
කවුරු

මට
හම්බවෙන්න
විදුහල්පතිතුමා
ඕනෑ

ගිහින්
මම
එන්නම්

අපි
කඳවුරක්
ලේ දන්දීමේ
කළා
සංවිධානය

යන්නේ
කාර්යාලයට
කොහොමද

ගිහිල්ලා
හැරෙන්න
කෙළින් ම
දකුණට

## මම ගිහින් එන්නම්.

i ..............................................................................................

ii ..............................................................................................

iii ..........................................................................................

iv ..........................................................................................

v ..........................................................................................

### ක්‍රියාකාරකම 03

## යා කරමු. ලියමු. කියවමු.

இணைப்போம். எழுதுவோம். வாசிப்போம்.

| | | |
|---|---|---|
| i | එන්න | එන්නම්. |
| ii | සංවිධානය | හැරෙන්න. |
| iii | ගිහින් | කළා. |
| iv | මෙතනින් | කියන්න. |
| v | දකුණට | ඉඳගන්න. |

ක්‍රියාකාරකම 04

## කියවමු. ලියමු.

வாசிப்போம். எழுதுவோம்.

මෙතනින් → ඉඳගන්න.
මෙතනින් → නැගිටින්න.

කොහොම ද → යන්නේ?
කොහොම ද → එන්නේ?

දෙන්නයි → ආවේ.
දෙන්නයි → ගියේ.

බොහොම → හොඳයි.
බොහොම → නරකයි.

ගිහින් → එන්නම්.
ගිහින් → යන්නම්.

හැරෙන්න → දකුණට.
→ වමට.

එන්න → ඇතුළට.
→ එළියට.

## ක්‍රියාකාරකම 05

**කාර්යාලයට යන පාර සලකුණු කරමු.**

காரியாலயத்திற்குச் செல்லும் வழியைக் குறிப்பிடுவோம்.



## වචන මාලාව

හම්බවෙන්න ඕනෑ - சந்திக்க வேண்டும்

කාර්යාලයට - காரியாலயத்திற்கு

කොහොම ද? - எப்படி?

මෙතනින් - இவ்விடத்தில் இருந்து

යනකොට - போகும்போது

තියෙන්නේ - இருப்பது

ඉස්සරහ - முன்னால்

ස්තූතියි - நன்றி

හමුවෙන්න - சந்தியுங்கள்

පුළුවන් ද? - முடியுமா?

කාර්යාලයේ - காரியாலயத்தில்

| | | |
|---|---|---|
| ඉඳගන්න | - | அமருங்கள் |
| අහලා | - | கேட்டு |
| කියන්නම් | - | சொல்கின்றேன் |
| ඇතුළට | - | உள்ளே |
| එන්න | - | வாருங்கள் |
| වාඩිවෙන්න | - | அமருங்கள் |
| ආයුබෝවන් ! | - | வணக்கம் |
| කඳවුරක් | - | ஒரு முகாம் |
| දෙන්නයි ආවේ | - | தருவதற்கு வந்தேன் |
| කවදා ද? | - | எப்போ? |
| සෙනසුරාදා | - | சனிக்கிழமை |
| ශාලාවේ | - | மண்டபத்தில் |

# 12 ගොයම් කපමු.

**තාත්තේ**, මමත් ගොයම් කපනවා බලන්න එන්න ද?

හා පුතේ එන්න, **හැබැයි** ඔයා **කුඹුරට** බහින්න එපා.

කුඹුරේ මඩ.

ඔයා නියර උඩ ඉන්න.

අම්මාට තේ අරං එන්න කියන්න.

ලොකු පුතා, බාප්පාට ගොයම් කපන්න උදවු වෙන්න.



ලොකු මාමා, අර දෑකැත්තක් දෙන්න.
කෝ නැන්දලා?
ගොයම් ටික එකතු කරන්න.
මිටි බඳින්න කමතට ගෙනියන්න.

අම්මේ, වතුර කළේ කොහේ ද තියෙන්නේ?
අර කමතේ තියෙනවා.
දුව, පුංචි අම්මාට අඬගහන්න.
හැමෝට ම තේ බොන්න එන්න කියන්න.
අක්කේ, ඔයාලා තේ බිව්වා ද?
නෑ..නෑ.. ඉස්සරවෙලා අර අයට,
ඔයාලා කැවිලි අල්ලන්න.
මල්ලී, ඔයා කෙසෙල් අල්ලන්න. මම තේ අල්ලන්නම්.

චූටි පුතා, එහාට යන්න එපා. නියරේ ඉන්න.
පුතේ, අපි ඔක්කොම කමතට යමු.
මාමේ, නැන්දේ, ඔක්කොමලා තේ බොන්න එන්න.
අන්න! අන්න! හඳයත් එනවා.
අපි යමු. අපි උඹට කෙසෙල් ගෙඩියක් කවමු.

ක්‍රියාකාරකම 01

## පිළිතුරු තෝරමු.

விடைகளை தெரிவு செய்வோம்.

i මෙම පාඩමෙන් කියවෙන්නේ කුමන අවස්ථාවක් ද ?

(ගොයම් කපන, තේ දලු නෙළන, ගොයම් හිටවන)

ii ගොයම් කපන්නේ

(දෑ කැත්තෙන්, පිහියෙන්, උදැල්ලෙන්)

iii මඩට බහින්න එපා නියරේ ඉන්න කිව්වේ ඇයි?

(කුඹුරේ මඩ නිසා, ගොයම් කපන නිසා, තේ බොන නිසා)

iv තේ බීම සඳහා ගෙනැවිත් තිබුණේ මොනවා ද ?

(කැවිලි, කිරිබත්, පාන්)

v තේ පානය සඳහා ඔක්කොම යන්නේ කොහේට ද?

(කමතට, නිවසට, කඩයට)

## ක්‍රියාකාරකම 02

# උපදෙස් කියවමු. ලියමු.

அறிவுரைகளை வாசிப்போம். எழுதுவோம்.

i    කුඹුරට බහින්න

ii    එහාට යන්න

iii    මඩට බහින්න

iv    ඈතට යන්න

v    ගොයම් පැළ පාගන්න

→ එපා.

i ..........................................................................................

ii ..........................................................................................

iii ..........................................................................................

iv ..........................................................................................

v ..........................................................................................

## ක්‍රියාකාරකම 03

**හිස්තැන් පුරවමු. කියවමු. ලියමු.**

இடைவெளி நிரப்புவோம். வாசிப்போம். எழுதுவோம்.

i ගොයම් .......................

ii ගොයම් .......................

iii ගොයම් .......................

iv කමතට .......................

v කැවිලි .......................

කපන්න.

එකතු කරන්න.

ගෙනියන්න.

මිටි බඳින්න.

අල්ලන්න.

## ක්‍රියාකාරකම 04

**හිස්තැන් පුරවමු. කියවමු. ලියමු.**

இடைவெளி நிரப்புவோம். வாசிப்போம். எழுதுவோம்.

i  ................... දෙන්න.

ii  ........................ කපමු.

iii  ........................... කවමු.

iv  .............................. යමු.

v  ................................ අල්ලන්න.

## ක්‍රියාකාරකම 05

# වගන්ති හදමු. කියමු. ලියමු.

வாக்கியங்கள் அமைப்போம். சொல்வோம். எழுதுவோம்.

I




i ...................................... අල්ලන්න.

ii ...................................... අල්ලන්න.

iii. ...................................... අල්ලන්න.

iv ...................................... අල්ලන්න.

v ...................................... අල්ලන්න.

II ගළපමු. ලියමු.

இணைப்போம். எழுதுவோம்.

| | |
|---|---|
| ගොයම් | අල්ලන්න එපා. |
| වතුර කළේ | යන්න එපා. |
| මඩට | බහින්න එපා. |
| දැකැත්ත | පාගන්න එපා. |
| ඈතට | තියන්න එපා. |

i. ..........................................................................................

ii. ..........................................................................................

iii ..........................................................................................

iv ..........................................................................................

v ..........................................................................................

## වචන මාලාව

| | | |
|---|---|---|
| තාත්තේ | - | அப்பா |
| හැබැයි | - | ஆனால் |
| කුඹුරට | - | வயலுக்கு |
| දෑකැත්තක් | - | அரிவாள் |
| නැන්දලා | - | மாமிமார் |
| හැමෝට ම | - | எல்லோருக்கும் |
| ඔයාලා | - | நீங்கள் |
| නියරේ | - | வரம்பில் |
| පුතේ | - | மகனே |
| ඔක්කොම | - | எல்லாம் |
| නැන්දේ | - | மாமி |
| ඔක්කොමලා | - | எல்லோரும் |

# 13 ආච්චිගෙන් ලිපියක්



බණ්ඩාර මැණිකේ,
නො. 20,
ජයමාලපුර,
ගම්පොල.
2021. 10. 05

**දෙවිපිහිටයි!**

ආදරණීය චූටි පුතා වෙත,

පුතේ සැප සනීප කොහොම ද? අපි නම් සුවෙන් ඉන්නවා. අපි පෝය දා කන්දෙ විහාරය බලන්නත් ගියා. හරි ම ලස්සනයි පුතේ.

අද නැන්දාත් එක්ක පොළට යනවා බඩු ගේන්න. හෙට, අනිද්දා කුඹුරේ ගොයම් කපනවා. ඇළ ළඟ ගස්වල පේර, රඹුටන් පිරිලා තියෙනවා.

පුතා හොඳට ඉගෙන ගන්න. නිවාඩුවට අම්මායි, තාත්තායි එක්ක ගමට එන්න. සියලු දෙනා ම නීරෝගී වේවා!

මීට,
ආදරණීය,
සුදු ආච්චී.

## ක්‍රියාකාරකම 01

**පිළිතුරු කියමු. ලියමු.**

விடை சொல்வோம். எழுதுவோம்.

i ලිපිය එවා ඇත්තේ කාටද ?

ii ලිපිය ලියා ඇත්තේ කවුද ?

iii පෝය දා බලන්න ගියේ මොකක් ද ?

iv නිවාඩුවට එන්න කීවේ කොහේට ද ?

v ගස්වල පිරිලා තියෙන්නේ මොනවා ද ?

## ක්‍රියාකාරකම 02

**හිස්තැන් පුරවමු.**

இடைவெளிகளை நிரப்புவோம்.



i සැප සනීප ................................?

ii අපි නම්...................... ඉන්නවා.

iii ................................ චූටි පුතා වෙත.

iv සියලු දෙනා ම........................... වේවා.

v .................................. කුඹුරේ ගොයම් කපනවා.

(ආදරණීය /කොහොම ද?/අනිද්දා/සුවෙන්/ නීරෝගි)

### ක්‍රියාකාරකම 03

## කියමු. ලියමු.

சொல்வோம். எழுதுவோம்.

I බුදු සරණයි!
තෙරුවන් සරණයි!

II දළදා සමිඳු පිහිටයි!

III දෙවි පිහිටයි!
ජේසු පිහිටයි!

IV ජය වේවා!
සෙත් වේවා!

V සුවපත් වේවා!
නීරෝගි වේවා!

## ක්‍රියාකාරකම 04

## සම්පූර්ණ කරමු.

இடைவெளிகளை நிரப்புவோம்.

i ලිපිනය

.................................

.................................

.................................

.................................

ii ........................ !

iii ආදරණීය ................. වෙත,

iv සැප සනීප .....................

v නීරෝගී....................

මීට ආදරණීය

.................................

## ක්‍රියාකාරකම 05

# ලිපියක් ලියමු.



ආච්චිට ලිපියක් ලියමු.

பாட்டிக்கு ஒரு கடிதம் எழுதுவோம்.

### වචන මාලාව

| | | |
|---|---|---|
| දෙවි පිහිටයි! | - | இறைவன் துணை |
| ආදරණීය | - | அன்புள்ள |
| සැප සනීප | - | சுக செய்தி |
| කොහොම ද? | - | எப்படி |
| කන්දෙ විහාරය | - | கந்தெ விஹாரை |
| අද | - | இன்று |
| හෙට අනිද්දා | - | நாளை மறுநாள் |
| ඇළ | - | கால்வாய் |
| පේර | - | கொய்யா |
| රඹුටන් | - | றம்புட்டான் |
| පිරිලා | - | நிறைந்துள்ளது |
| නිවාඩුවට | - | விடுமுறைக்கு |
| නීරෝගී | - | ஆரோக்கியமான |

# 14 නත්තල් සමරමු.

මිතුන්, මාලිංග, උමර්, කුමාර්, හැමෝ ම ඇවිත්.

ආ....නේ ෂෙනාල්ගෙ ගෙදර **ලස්සනයි.**

ඔව් මිතුන්, අද **නත්තල්** උත්සවය නේ.

ෂෙනාල් අර... ගහ?

තාත්තා **නත්තල්** ගහ හදනවා.

අපිත් යමු බලන්න.



පාට පාට විදුලි බුබුළුවලින් සරසනවා.
නත්තල් ගහ ලස්සනයි.
පුතේ, අද වගේ දවසක තමයි
ගව ලෙනක ජේසු බිළිඳා උපන්නේ
එදාට හැමෝ ම නත්තල් සමරනවා.
මාලිංග, මාලිංග අර බලන්න !
කවුද?

අතන ළමයි පිරිලා.
අර... අර.. රතු ඇඳුම
ආ... නේ සාදික්, බලන්න සුදු රැවුලක්

ඇත්තමයි. ෂෙනාල් ඒ කවුද?
නත්තල් සීයා ඇවිත්.
මල්ලේ තෑගි ගොඩක් ගෙනල්ලා.
නත්තල් සීයා හැමෝටම ම තෑගි දෙනවා.
එන්න එන්න තෑගි ගන්න.
අන්න අපිටත් කතා කරනවා,
අපිටත් තෑගි ලැබෙනවා.
හරි ම සතුටුයි.

## ක්‍රියාකාරකම 01

**කියමු. ලියමු.**

வாசிப்போம். எழுதுவோம்.

i ෂෙනාල්ගේ ගෙදරට ආ යාළුවන් කවුරුන් ද?

ii ෂෙනාල්ගේ ගෙදර තිබුණු උත්සවය කුමක් ද?

iii නත්තල් දා උපන්නේ කවුද?

iv නත්තල් සීයා දුන්නේ මොනවා ද?

v නත්තල් සීයාගේ ඇඳුම මොන පාට ද?

## ක්‍රියාකාරකම 02

**ගළපා ලියමු.**

ஒழுங்குபடுத்துவோம். எழுதுவோம்.




i නත්තල් උත්සවය ලස්සනයි. ....................................................

ii ..........................................................................

iii ........................................................................

iv .........................................................................

v ..........................................................................

## ක්‍රියාකාරකම 03

**I හිස්තැන් පුරවමු.**

இடைவெளிகளை நிரப்புவோம்.

i  ...................... සුදුයි.

ii  ................ රතුයි.

iii  .............. ගොඩයි.

iv  ................ ගහ.

v  ...................... ජේසු බිළිඳා උපන්නා.

II **බලා ලියමු.**

பார்த்து எழுதுவோம்.

i ගෙදර ලස්සනයි.

ii විදුලි බුබුළුවලින් සරසනවා.

iii නත්තල් ගහ හදනවා.

iv තෑගි ගොඩක් ගෙනල්ලා

v හැමෝ ම නත්තල සමරනවා.

## ක්‍රියාකාරකම 04

# හිස්තැන් පුරවමු.

இடைவெளிகளை நிரப்புவோம்.

i  ............................... සරසනවා.

ii  ............................... ලස්සනයි.

iii  ....................................... එනවා.

iv  ......................................... දෙනවා.

v  .................................. වලින් සරසනවා.

## ක්‍රියාකාරකම 05

**අතීත කාලයට හරවමු.**

இறந்த காலத்திற்கு மாற்றுவோம்.

නිදසුන :- නත්තල් ගහ හදනවා.

නත්තල් ගහ හැදුවා.

i විදුලි බුබුළුවලින් සරසනවා.

..............................................................................

ii නත්තල් සමරනවා.

..............................................................................

iii තෑගි දෙනවා.

..............................................................................

iv තෑගි ගොඩක් ගේනවා.

..............................................................................

v කතා කරනවා.

..............................................................................

## වචන මාලාව

| | | |
|---|---|---|
| ලස්සනයි | - | அழகானது |
| නත්තල් | - | நத்தார் |
| උත්සවයනේ | - | விழா அல்லவா |
| නත්තල් ගහ | - | நத்தார் மரம் |
| උපන්නා | - | பிறந்தார் |
| සමරනවා | - | கொண்டாடுவோம் |
| රතු ඇඳුම | - | சிவத்த ஆடை |
| සුදු රැවුලක් | - | வெள்ளைத் தாடி |
| ඇත්තමයි | - | உண்மைதான் |
| නත්තල් සීයා | - | நத்தார்த் தாத்தா |
| තෑගි | - | பரிசுகள் |
| හැමෝට ම | - | எல்லோருக்கும் |
| ගොඩක් | - | நிறைய |